බුද්ධජයන්ති ත්‍රිපිටක ග්‍රන්ථමාලා 49 (II)



## අභිධම්මපිටකයෙහි

10 වන ග්‍රන්ථය

# යමක ප්‍රකරණ

## ද්විතීය භාගය (2)

---

ලංකා බෞද්ධ මණ්ඩලයේ ආරාධනයෙන්
හිගුල මාකඩවර ශ්‍රී රේවත පරිවේණාධිපති
යතරකෝරළ මහදිසාවේ ප්‍රධාන සඞ්ඝනායක රාජකීය පණ්ඩිත
**ශ්‍රී ධම්සකන්ධ රේවත කරහම්පිටිගොඩ ශ්‍රී සුමනසාර**
ස්ථවිරයන් වහන්සේ විසින් කරන ලද
සිංහල පරිවර්තනය

---

ශ්‍රී බු: ව: 2550
රාජ්‍ය වර්ෂ: 2006

Buddha Jayanti Tripitaka Series, Volume 49 (ii)

The Tenth Book in the

**Abhidhamma-Pitaka**

**10**

# YAMAKAPPAKARANA (II-2)

With the Sinhala translation by

**Venerable Pandit Karahampitigoda**
**Sri Dhammakkhandha Rewata Sumanasāra Thera**

The Chief High Priest of the Province of
Four Koralas and the Principal of
Sri Rewata Pirivena, Makadawara Hingula

නමෝ තස්ස භගවතෝ සබ්බධම්මේසු අප්පටිහතඤාණචාරස්ස දසබලධරස්ස චතුවේසාරජ්ජවිසාරදස්ස සබ්බසත්තුත්තමස්ස ධම්මිස්සරස්ස ධම්මරාජස්ස ධම්මස්සාමිස්ස තථාගතස්ස සබ්බඤ්ඤුනො සම්මාසම්බුද්ධස්ස !!!

භාග්‍යවත් වූ සියලු ධර්මයන්හි නොපැකිල ඥානචාර සහිත වූ දසබලධාරී වූ චතුර්වෛශාරදත්ව විශාරද වූ සියලු සත්වයන්ට උත්තම වූ ධර්මයට ඊශ්වර වූ ධර්මරාජ වූ ධර්මස්වාමී වූ තථාගත වූ සර්වඥ වූ සම්මා සම්බුදුනට නමස්කාර කරමි !!!

කෙළලක්ෂයක් සක්වලයන්හි සියලු ආර්යයෝ ද සියලු සත්පුරුෂයෝ ද මාගේ නමස්කාරය පිළිගනිත්වා !!!

## බුද්ධජයන්ති ත්‍රිපිටක ග්‍රන්ථමාලා පරිගණක ගත කර නොමිළයේ බෙදාහැරීමේ මහා ධර්ම දානමය පුණ්‍යකර්මය

**"අපාරුතා තේසං අමතස්ස ද්වාරා**
**යේ සෝතවන්තෝ පමුඤ්චන්තු සද්ධං"**

"කන් ඇත්තාහු සැදැහැ මුදත්වා
ඔවුනට අමා දොර විවෘත කරන ලදී"

අප භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ප්‍රථම අනුසාසනය මෙහි ලා සිහි කිරීම ත්‍රිපිටක ශ්‍රී සද්ධර්මය පරිශීලනය කරන්නා වූ පින්වතුන්ගේ අභිවෘද්ධිය පිණිස ම වන බව අපගේ හැඟීම ය.

සැම කල්හි ඥාන සම්ප්‍රයුක්ත ව ක්‍රියා කරන්නා වූ සියලු සම්මා සම්බුදුරජාණන් වහන්සේලාගේ පලමු අනුශාසනය, බුද්ධ රත්නය කෙරෙහි ගෞරව කරන්නා වූ බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුදු බෝධිය අදහන්නා වූ කවර නම් පුද්ගලයෙකු නො සළකා හිදිත් ද ? චතු වෛශාරදත්ව සහිත වූ දශ බල සහිත වූ අනාවරණ ඥාන සහිත වූ සර්වඥ වූ මහා කාරුණිකයන් වහන්සේ පවා නිවන අවබෝධ කර ගැනීම පිණිස ධම්මානුධම්ම ප්‍රතිපදාව ආරම්භ කරන පුද්ගලයා තුල 'සද්ධා' නම් වූ ගුණය අත්‍යාවශ්‍ය ය යන්න අවධාරනය කරන සේක.

මෙම ත්‍රිපිටක ශ්‍රී සද්ධර්මය සැක නොකළ යුතු ය. සැක කරමින් හදාරන ලෞකික ශිල්ප ශාස්ත්‍ර පවා පරිපූර්ණ ව නො පිහිටන බව සිහි ඇතිව බැලීමෙන් නුවණ ඇත්තාහට දැක ගත හැකි ය. පුරුෂයා ශ්‍රේෂ්ඨ බවට පමුනු වන්නා වූ සද්ධා ධනය සහිත ව ("සද්ධීධ වින්තං පුරිසස්ස සෙට්ඨං") මෙම ධර්ම රත්නය පරිශීලනය කරන්නාහට සද්ධා අංගයෙන් ලැබිය යුතු සියල්ල ලැබෙනු නො අනුමාන ය. එසේ ම සිහියෙන් ලැබිය යුතු කොටස ද වීර්යයෙන් ලැබිය යුතු කොටස ද සමාධියෙන් ලැබිය යුතු කොටස ද ප්‍රඥාවෙන් ලැබිය යුතු කොටස ද ලැබෙන පරිදි සද්ධා, සති, විරිය, සමාධි සහ ප්‍රඥා යන පංච ධර්මයන් තමා තුල ඇති කර ගෙන මහත් වූ ගෞරවය සහිත ව ධර්මාවබෝධය පිණිස ම යොමු වූ දැඩි අධිෂ්ඨානයෙන් මෙම ධර්ම පුස්තක පරිශීලනය කළ යුතු ය. අපගේ බුද්ධ ශාසනයෙහි

ධර්ම ශ්‍රවනයෙන් මග ඵල ලැබුවෝ ම අධික ය. විමුක්තිය ලබන්නා වූ ක්‍රම වේදයන් පහක් විස්තර කරන්නා වූ අංගුත්තර පංචක නිපාතයෙහි 'විමුත්තායතන' සූත්‍රයෙහි නිවන ලබන ක්‍රම වේද සතරක් ම ධම්ම දේශණාමය සහ ධම්ම සවනමය පුණ්‍ය කර්ම ඇසුරින් සිදුවන බව පැහැදිලි කර ඇත. පස්වැනි ක්‍රම වේදය භාවනාමය පුණ්‍ය කර්මය ප්‍රගුණ කිරීමෙන් සාර්ථක වන බව ද එහි සඳහන් වේ.

මහත් වූ ගෞරවාදරයෙන් මහා සුගතයන් වහන්සේගේ අනුශාසනය පිළිපදින්නා වූ අප්‍රමාදී ව ධම්මානුධම්ම ප්‍රතිපදාව වඩන්නා වූ සියලු සත්නට, ත්‍රෛකාලික වූ සියලු දුකින් මිදී ලබන්නා වූ අජර වූ අමර වූ අමා මහ නිවන අවබෝධ වීම පිණිස මෙම මහඟු පුණ්‍ය කර්මය උපනිශ්‍රය වේවා !

ආර්යයන් වහන්සේලා පහළවීමෙන් සිරිලක බැබලේවා !
බුද්ධ ශාසනය දියුණුවී චිරස්ථිතික වේවා !
ලෝ සත්නට සෙත් වේවා !

**"අමතං දදෝ ච සෝ හෝති, යෝ ධම්මමනුසාසති"**
( *යමෙක් ධර්මානුශාසනය කරන්නේ ද, හේ අමෘතය දෙන්නේ ය* )

මෙම ධර්ම දානමය පුණ්‍ය කර්මය
මෝහ තිමිර විධ්වංසනය කරන්නා වූ ලොවට උතුම් ආලෝකය වූ මහා කාරුණික වූ
සම්මාසම්බුදුරජාණන් වහන්සේගේ සර්වඥතා ඥානයට ද මහා කරුණා ගුණයට ද
පූජෝපහාරයක් ම වේවා !!!

කෙළලක්ෂයක් සක්වලයන්හි සියලු ආර්යයෝ ද සියලු සත්පුරුෂයෝ ද
අපගේ පුණ්‍ය කර්මය අනුමෝදන් වෙත්වා !!!

ශාසනාභිවෘද්ධිකාමී,
සමින්ද රණසිංහ.
2009.06.28

# අභිධම්ම පිටකෙ

# යමකප්පකරණං

## දුතියො භාගො (2)

# අභිධර්මපිටකයෙහි

# යමකප්‍රකරණ

## ද්විතීය භාගය (2)

''තථාගතපපවෙදිතො භිකඛවෙ ධමමවිනයො විවටො විරොචති නො පටිචඡනෙනා.''

''මහණෙනි, තථාගතයන් වහන්සේ විසින් දෙශනා කරන ලද ධර්මය හා විනය විවෘත වූයේ බබළයි, වැසුණේ නො මැ බබළයි''

(අඞගුතතරනිකාය, තිකනිපාත – භරණඩුවගග, 9 සූත්‍රය)

සැලකිය යුතුය : මෙම පොතෙහි පටුන, පිටු අංක 15 හි ඇතුලත් කර ඇත. එම පටුනෙහි මාතෘකාවන් හා පිටු අංක අදාළ පිටු සමඟ සම්බන්ධ කර ඇත. මෙහි කියවීමට ඇති ප්‍රදේශයට වම් පසින් ඇති 'පිටු යොමුව' භාවිතා කිරීමෙන් නැවත පටුනට පැමිණීමට පුලුවන. වම් පසින් පාළි පිටුව ද දකුණු පසින් අදාළ සිංහළ පිටුව ද කියවීම සඳහා VIEW menu PAGE DISPLAY option and select TWO-UP CONTINUOUS යන ක්‍රමය භාවිතා කරන්න.

Please note : The TABLE OF CONTENTS of this book is located in page no:15 and it is linked with associated pages in the book for your convenience. You can easily click on the page number or content description in the 'Table of Contents' and you will be directed to the relevant page. Bookmarks located to the left of reading area can be used to navigate back to 'Table of Contents' Page. If you would like to view Pali page on your left and the relevant Sinhala page on your right select the menu items as follows; VIEW menu PAGE DISPLAY option and select TWO-UP CONTINUOUS.

# පටුන

# CONTENTS

# සංස්කාරක නිවේදනය

බුද්ධජයන්ති ත්‍රිපිටක ග්‍රන්ථමාලායෙහි අභිධර්ම පිටකයට අයත් යමකප්‍රකරණය කාණ්ඩ දෙකකින් යුක්ත කොට මුද්‍රණයට සැලසුම් කරන ලද්දේය. එහි සවැනි සඞ්ඛාර යමකයෙහි පටන් ඉන්ද්‍රියයමකය තෙක් යමක පස මුද්‍රණ අවස්ථාවට පැමිණ පරිහරණයට දුෂ්කරවනසේ මහත් ග්‍රන්ථයක් වනබව පැනුණු හෙයින් 'ඉන්ද්‍රියයමකය' වෙන ම කාණ්ඩයක් ලෙස මුද්‍රණය කරවන්නට තීරණය විය. එහෙයින් මේ ග්‍රන්ථභාගය යමකප්‍රකරණයේ ද්විතීය භාගයෙහි දෙවැනි කාණ්ඩය ලෙස මුද්‍රණය වූබව සලකන්නේ මැනැවි.

පණ්ඩිත මීරිස්සේ ගුණසිරි ස්ථවිරයන් වහන්සේ මේ ග්‍රන්ථභාගය ද පරිවර්තනය සඳහා බෞද්ධ මණ්ඩලය මගින් ආරාධිත වැ සිටි නමුදු උන් වහන්සේගේ ආකස්මික අභාවය නිසා එමැ සංස්කරණය හා සිංහල අනුවාදය ද ත්‍රිපිටක සම්පාදක මණ්ඩලය වෙත පැවැරිණ. එහෙයින් ත්‍රිපිටක සම්පාදක මණ්ඩලයේ ප්‍රවීණ සාමාජිකවරයකු වන හිඟුල, මාකඩවර ශ්‍රී රේවත පරිවෙණාධිපති සතරකෝරළ මහදිශායෙහි ප්‍රධාන සංඝනායකධුරීණ වූ **ශ්‍රී ධම්මානන්ද රේවත, රාජකීය පණ්ඩිත ශ්‍රී සුමනසාර** ස්ථවිරයන් වහන්සේ විසින් මෙ ද සපුරා හෙළබසට නඟා පාඨශෝධනය ද කරමින් මුද්‍රණයට සකස් කළබව පවසම්හ.

ශ්‍රී ලංකා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ අතිගරු ජනාධිපති තැන්පත් **ශ්‍රීමත් ජේ. ආර්. ජයවර්ධන** උතුමාණන්ගේ කාරුණික අනුග්‍රහයද සංස්කෘතික කටයුතු පිළිබඳ ගරු අමාත්‍ය වූ **ඊ. ඇල්. බී. හුරුල්ලේ** මැතිතුමාණන් හා නියෝජ්‍ය අමාත්‍ය **ඩබ්ලිව්. ඇම්. ඩී. බණ්ඩා** මැතිතුමාණන් ඇතුළු සංස්කෘතික කාර්‍යමණ්ඩලය ද, තිසර මුද්‍රණාලයාධිකාරී මහතාණන් ප්‍රමුඛ මුද්‍රණකාර්‍යාංශය හා මෙහි උපස්කෘත සියලු සුධීහු ද මෙ මැ ධර්ම දානමය කුශලයෙන් ස්වර්ග මොක්ෂ සුඛභාගී වෙත්වා' යි ආශංසනය කරම්හ.

මෙවගට,

**ලබුගම ලඞ්කානන්ද**
මහානායක ස්ථවිරයන් වහන්සේ,
ත්‍රිපිටක සම්පාදක මණ්ඩලයේ ප්‍රධාන සංස්කාරක.

1987 දෙසැ. 25 දින.
කොළඹ මහානායක චාරිකාරාමය.

# ත්‍රිපිටක සම්පාදක මණ්ඩලය

**උපදේශක:**

අග්ගමහාපණ්ඩිත, බළන්ගොඩ ආනන්දමෛත්‍රෙය මහානායක මහාස්ථවිරපාදයන් වහන්සේ.

**සභාපති:**

අභංගම විද්‍යාචන්ද්‍රපරිවෙණාධිපති, ත්‍රිපිටකවාගීශ්වරාචාර්ය, සාහිත්‍ය චක්‍රවර්ති, රාජකීය පණ්ඩිත, කෝදාගොඩ ශ්‍රී ඥානාලෝක දක්ෂිණ-ලඞ්කායෙහි ප්‍රධාන සඞ්ඝනායක ස්ථවිරයන් වහන්සේ.

**ප්‍රධාන සම්පාදක:**

මොල්ලිගොඩ ප්‍රවචනෝදය පරිවෙණාධිපති ශ්‍රී මහාවිහාරවංශාලඞ්කාර විමල කීර්ති ශ්‍රී ත්‍රිපිටකවාගීශ්වර, සාහිත්‍යචක්‍රවර්ති, රාජකීය පණ්ඩිත, ලබුගම ශ්‍රී ලඞ්කානන්දාභිධාන — කෝට්ටෙ ශ්‍රී කල්‍යාණි සාමග්‍රීධර්ම මහාසඞ්ඝසභායෙහි මහානායක ස්ථවිරයන් වහන්සේ.

**සම්පාදක:**

කිරුළපන පූර්වාරාමයෙහි හා නාරාහේන්පිට අභයාරාමයෙහි අධිපති, ශාස්ත්‍රපති, විද්‍යාවිශාරද, රාජකීය පණ්ඩිත, රද්දල්ලේ ශ්‍රී ප්‍රඥාලෝක — කෝට්ටේ ශ්‍රී කල්‍යාණි සාමග්‍රීධර්ම මහාසඞ්ඝසභායෙහි අනුනායක ස්ථවිරයන් වහන්සේ.

හෙරලියාවල ශ්‍රී සුධර්මාරාමාධිපති, ශාස්ත්‍රපති, විද්‍යාවිශාරද රාජකීය පණ්ඩිත, වේඩරුවේ ශ්‍රී අත්ථදර්ශී—කෝට්ටේ ශ්‍රී කල්‍යාණි සාමග්‍රීධර්ම මහාසඞ්ඝසභායෙහි අනුනායක ස්ථවිරයන් වහන්සේ.

හිඟුලේ මාකඩවර ශ්‍රී රේවත පරිවෙණාධිපති, සතරකෝරළ මහ-දිසාවේ ප්‍රධාන සංඝනායකධුරන්ධර ශ්‍රී ධර්මස්කන්ධ රේවත රාජකීය පණ්ඩිත කරහම්පිටිගොඩ ශ්‍රී සුමනසාර ස්ථවිරයන් වහන්සේ.

කොළඹ තිඹිරිගස්යායේ අශෝකාරාමාධිපති, රාජකීය පණ්ඩිත, කරදන ශ්‍රී ප්‍රඥාලඞ්කාර නායක ස්ථවිරයන් වහන්සේ.

අනුරාධපුර බුද්ධශ්‍රාවක ධර්මපීඨයෙහි ත්‍රිපිටක අංශයෙහි මහාචාර්ය, ශාස්ත්‍රාචාර්ය, රාජකීය පණ්ඩිත, ත්‍රිපිටකාචාර්ය, රයිගම් කෝරළයේ ප්‍රධාන සංඝනායකධුරන්ධර උඩුවේ ශ්‍රී ඥානානන්ද ස්ථවිරයන් වහන්සේ.

**ලේකම්:**

කොළඹ බෞද්ධාලෝක මාවතෙහි බෞද්ධාලෝක විහාරාධිපති, පණ්ඩිත දෙරගමුවේ සිරි ධම්මපාල - කොළඹදිසායෙහි ප්‍රධාන සංඝ-නායක ස්ථවිරයන් වහන්සේ.

# සංකේත නිරූපණය

සී.මු. - සීහළක්ඛරමුද්දිත යමකප්පකරණං

ස්‍යා - ස්‍යාමක්ඛර මුද්දිත යමකප්පකරණං

ම.ඡ.සං - මරම්මඡට්ඨසංගීතියා සොධිත යමකප්පකරණං

අට්ඨකථා - පඤ්චප්පකරණට්ඨකථා

PTS - PALITEXT SOCIETY YAMAKAPPAKARANA

# සංඥපනය

යමක ප්‍රකරණයෙහි ඒ ඒ යමකයන් පිළිබඳ නය විභාගාදි කිවයුතු සාමාන්‍ය දය ප්‍රථමභාග සංඥපනයෙහි ලා කියන ලද්දේ යැ. මේ ග්‍රන්‍ථයෙහි එන ඉන්‍ද්‍රියයමකයෙහි නය විභාගාදිය එය බලා දත්තේ යැ. විශෙෂ වූ කිහිප තැනක් මෙහි දක්වම්හ.

චක්ඛායතන චක්ඛුධාතුමූලකයෙහි මෙන් මෙ චක්ඛුන්‍ද්‍රියමූලක නයෙහි ද ජිව්හින්‍ද්‍රිය කායින්‍ද්‍රිය මූලක යමකයෝ නො ගන්නා ලදහ. පළමු කී සොතින්‍ද්‍රිය ඝානින්‍ද්‍රිය හා සමාන විසර්ජන ඇති හෙයිනි. මනින්‍ද්‍රිය උද්දෙසයෙහි කී පිළිවෙළ අනුව නොයොද සියලු චක්ඛුන්‍ද්‍රිය මූලකාදීන් සමඟ අවසන්හිලා යොදන ලද යැ. චක්ඛුන්‍ද්‍රියාදි මූලකයන් සමග මෙන් මැ ඉත්‍ථින්‍ද්‍රියාදි මූලකයන් හා සමග ද යෙදෙන බැවිනි.

චක්ඛුන්‍ද්‍රිය සමග ඉත්‍ථින්‍ද්‍රිය, පුරිසින්‍ද්‍රිය, ජීවිතින්‍ද්‍රිය, සොමනස්සින්‍ද්‍රිය, උපෙක්ඛින්‍ද්‍රිය, සද්ධින්‍ද්‍රිය, පඤ්ඤින්‍ද්‍රිය, මනින්‍ද්‍රිය යන ඉන්‍ද්‍රියයෝ ගන්නා ලදහ. ප්‍රතිසන්‍ධියෙහි නො ලැබෙන බැවින් සුඛින්‍ද්‍රිය, දුක්ඛින්‍ද්‍රිය, දෙමනස්සින්‍ද්‍රිය යන මොහු ද අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්‍ද්‍රිය, අඤ්ඤින්‍ද්‍රිය, අඤ්ඤාතාවින්‍ද්‍රිය යන මොහු නො ගන්නා ලදහ. ඒ ඒ ඉන්‍ද්‍රිය මූලකයෙහි ඉන්‍ද්‍රියයන් ලැබෙන අයුරින් යමක ගිණියැ යුතු.

පවත්ති උප්පාදවාරයෙහි "සචක්ඛුකානං න ඉත්‍ථීනං උපපජ්ජන්තානං" යන මෙහි 'ඇස් ඇති වැ ස්ත්‍රී නො වැ උපදනාහු' යයි බ්‍රහ්මපාරිසද්‍යාදි රූපී බ්‍රහ්මයෝ ද පුරුෂයෝ ද නපුංසකයෝ ද කියන ලද වෙති. ඔවුනට ස්ත්‍රීන්‍ද්‍රිය නූපදියි. "සචක්ඛුකානං න පුරිසානං උපපජ්ජන්තානං" යන මෙහි 'ඇස් ඇති වැ නො පිරිමිනි වැ උපදනාහු' යයි රූපී බ්‍රහ්මයෝ ද ස්ත්‍රීහු ද නපුංසකයෝ ද කියන ලද වෙති. ඔවුනට පුරිසින්‍ද්‍රිය නූපදියි, "අචක්ඛුකානං උපපජ්ජන්තානං තෙසං ජීවිතින්‍ද්‍රියං උප්පජ්ජති" යන මෙහි 'ඇස් නැති වැ උපදනා ඔවුනට ජීවිතින්‍ද්‍රිය උපදී' යනු එකවොකාර (අසංඥසත්ව) චතුවොකාර (අරූප) කාමධාතුසත්වයන් ගෙන කියන ලද්දෙ යැ. "සචක්ඛුකානං විනා සොමනස්සෙන" යනු උපෙක්ෂා සහගත සතර මහාවිපාක ප්‍රතිසන්‍ධි ද "සචක්ඛුකානං විනා උපෙක්ඛාය" යනු සොමනස්ස සහගත ප්‍රතිසන්‍ධි ද "උපෙක්ඛාය අචක්ඛුකානං" යනු අහෙතුක ප්‍රතිසන්‍ධි ද ගෙන කියන ලද යැ. "අහෙතුකානං" යනු; අහෙතුක ප්‍රතිසන්‍ධි චිත්තය හා සමග ශ්‍රද්ධා, සති, ප්‍රඥ ඉන්‍ද්‍රියයෝ එකාන්තයෙන් මැ නූපදිති. සමාධි වීර්‍ය්‍ය දෙක ඉන්‍ද්‍රිය ප්‍රාප්ත නො වෙති. "සහෙතුකානං අචක්ඛුකානං" යනු ගර්භශය්‍යා ඇතියන් වශයෙන් ද අරූපී වශයෙන් ද කියන ලද යැ ඔවුන් හැර අනෙක් හෙතුසම්පන්න ඇස් නැතියෙක් නැත. "සචක්ඛුකානං අහෙතුකානං" යනු අපායෙහි ඕපපාතිකයන් ගෙන කියන ලද යැ,

''සචක්ඛුකානං ඤාණවිප්පයුත්තානං'' යි කාමධාතුයෙහි ද්‍විහේතුක ප්‍රති-සන්ධි ඇතියන් ගෙන කියන ලද යැ. ''සචක්ඛුකානං ඤාණසම්පයුත්තානං'' යනු රූපී බ්‍රහ්මයන් ද කාමාවචර දෙව්මිනිසුන් ද ගෙන කියන ලද යැ. ''ඤාණසම්පයුත්තානං අචක්ඛුකානං'' යනු අරූපීන් ද ත්‍රිහේතුක ගර්භශය්‍යා ඇතියන් ද ගෙන කියන ලද යැ. ''විනා සොමනස්සෙන උපපජ්ජන්තානං'' යනු රූප ජීවිතින්ද්‍රිය හා අරූප ජීවිතින්ද්‍රිය ගෙන කියන ලද යැ. ''පවත්තෙ සොමනස්සවිප්පයුත්තචිත්තස්ස උප්පාදක්ඛණෙ'' යනු අරූප ජීවිතින්ද්‍රිය ගෙන කියන ලදි.

පරිඤ්ඤාවාරයෙහි ''අට්ඨමකො'' යනු ස්‍රොතාපත්තිමාර්ගසථ පුද්ගල යි. හෙ අර්හත්ඵලස්ථයා පටන් ප්‍රත්‍යාරොහණ ක්‍රමයෙන් ගණිනු ලබන්නෙ අටවැනි වෙයි, දක්ෂිණාර්හයන් ගිණීමෙහි දී රහතුන් වහන්සේ අග්‍ර දක්ෂිණාර්හ වන බැවින් ප්‍රථම පුද්ගල වෙයි.

''ද්වෙ පුග්ගලා අඤ්ඤින්ද්‍රියං භාවෙන්ති නො ච දොමනස්සින්ද්‍රියං පජහන්ති'' යන මෙහි ද්විපුද්ගලයෝ නම් සකෘදගාමිමාර්ගසමඞ්ගී යැ අර්හන්මාර්ගසමඞ්ගී යැ යන දෙදෙනා යි, ඔවුනතුරෙහි සකෘද-ගාමී පුද්ගල අසමර්ථ බැවින් දෞමනස්‍යින්ද්‍රිය ප්‍රහාණය නො කෙරෙයි, අර්හන්මාර්ගසථ පුද්ගල ප්‍රහීණදෙෂ බැවින් ප්‍රහාණ නො කෙරෙයි.

පඤ්ඤත්ති නිද්දෙසවාරයෙහි ' කායො කායින්ද්‍රියන්ති'' යන පෘච්ඡා විසර්ජනය ''කායින්ද්‍රියං ඨපෙත්වා අවසෙසො කායො න කායින්ද්‍රියං'' යි මරම්ම ඡට්ඨසඞ්ගීති යමකප්පකරණයෙහි ඇත. එය තායි අක්ෂර මුද්‍රණයෙහි ද PTS මුද්‍රණයෙහි ද ''කායින්ද්‍රියං ඨපෙත්වා අවසෙසා කායො න කායින්ද්‍රියං'' යි ඇත.

ආයතන යමකයෙහි ''කායො කායායතනන්ති'' යන පෘච්ඡා විසර්ජනයෙහි ''කායායතනං ඨපෙත්වා අවසෙසො කායො කායො, න කායායතනං'' යි තායි අක්ෂරමුද්‍රණයෙහි ඇත. ඉන්ද්‍රිය යමකයෙහි පාළි විභාගය සක්කන්ධ ආයතන යමකයෙහි කී නයින් මැ කළයුතු සේ අටුවාහි සඳහන් වෙයි. එහෙයින් අප විසින් මෙහි යථොක්ත පාළිය ''කායින්ද්‍රියං ඨපෙත්වා අවසෙසො කායො කායො, න කායින්ද්‍රියං'' යි සුපාඨ සේ ගන්නා ලද යැ. ''කායින්ද්‍රියය හැර අවශෙෂ කාය කාය නම් වෙයි, කායින්ද්‍රිය නො වෙයි'' යනු එහි අර්ථ යි. ''අවසෙසො කායොති: නාමකායො, රූපකායො, හත්ථිකායො, අස්සකායොති එවමාදි'' යි ''අවශෙෂකාය නම් නාමකාය, රූපකාය, හස්තිකාය, අශ්වකාය යන මේ ආදි යැ''යි අටුවාහි දක්වන ලද්දෙ යැ. ඡට්ඨසඞ්ගීති සංස්කරණයෙන් එ අරුත් නො නැඟෙයි. මෙ මතු නො වැ ''අවසෙසා ඉන්ද්‍රියා ඉන්ද්‍රියා, න සොතින්ද්‍රියං'' ආදි සෙසු තන්හි ද ''අවසෙසා ඉන්ද්‍රියා න සොතින්ද්‍රියං'' ආදීන් ඡට්ඨසඞ්ගීති සංස්කරණයෙහි පාළිය දක්නා ලැබේ. විමසා ගන්නෙ යි.

**කරහම්පිටිගොඩ සුමනසාර**
නායක ස්ථවිර.

රෙවත පිරිවෙන,
මාකඩවර.
හිඟුල.
1987. දෙසැ. 25

# THE PALI ALPHABET

## IN SINHALA CHARACTERS

### VOWELS

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| අ a | ආ ā | ඉ i | ඊ ī | උ u | ඌ ū | එ ē | ඔ ō |

### CONSONANTS

| | | | | |
|---|---|---|---|---|
| ක ka | ඛ kha | ග ga | ඝ gha | ඞ ṅa |
| ච ca | ඡ cha | ජ ja | ඣ jha | ඤ ña |
| ට ṭa | ඨ ṭha | ඩ ḍa | ඪ ḍha | ණ ṇa |
| ත ta | ථ tha | ද da | ධ dha | න na |
| ප pa | ඵ pha | බ ba | භ bha | ම ma |

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ය ya | ර ra | ල la | ව va | ස sa | හ ha | ළ ḷa | අං ṃ |
| ක ka | කා kā | කි ki | කී kī | කු ku | කූ kū | කෙ kē | කො kō |
| ඛ kha | ඛා khā | ඛි khi | ඛී khī | ඛු khu | ඛූ khū | ඛෙ khē | ඛො khō |
| ග ga | ගා gā | ගි gi | ගී gī | ගු gu | ගූ gū | ගෙ gē | ගො gō |

### CONJUNCT - CONSONANTS

| | | | |
|---|---|---|---|
| ක්ක kka | ඤ්ඤ ñña | ත්‍ර tra | ම්ඵ mpha |
| ක්ඛ kkha | ණ්හ ṇha | ද්ද dda | ම්බ, ම්බ mba |
| ක්‍ය kya | ඤ්ච ñca | ද්ධ ddha | ම්භ mbha |
| ක්‍රි kri | ඤ්ඡ ñcha | ද්‍ර dra | ම්ම mma |
| ක්ව kva | ඤ්ජ ñja | ද්ව, ද්ව dva | ම්හ mha |
| ඛ්‍ය khya | ඤ්ඣ ñjha | ධ්ව dhva | ය්‍ය, ය්‍ය yya |
| ඛ්ව khva | ට්ට ṭṭa | න්ත nta | ය්හ yha |
| ග්ග gga | ට්ඨ, ට්ඨ ṭṭha | න්ථ ntha | ල්ල lla |
| ග්ඝ ggha | ඩ්ඩ ḍḍa | න්ද nda | ල්‍ය lya |
| ඞ්ක ṅka | ඩ්ඪ ḍḍha | න්ධ ndha | ල්හ lha |
| ග්‍ර gra | ණ්ණ ṇṇa | න්න nna | ව්හ wha |
| ඞ්ඛ ṅkha | ණ්ට ṇṭa | න්හ nha | ස්ස ssa |
| ඞ්ග ṅga | ණ්ඨ ṇṭha | ප්ප ppa | ස්ම sma |
| ඞ්ඝ ṅgha | ණ්ඩ, ණ්ඩ ṇḍa | ප්ඵ ppha | ස්ව sva |
| ච්ච cca | ත්ත tta | බ්බ bba | හ්ම hma |
| ච්ඡ ccha | ත්ථ ttha | බ්භ bbha | ව්හ vha |
| ජ්ජ jja | ත්ව tva | බ්‍ර bra | ළ්හ ḷha |
| ජ්ඣ jjha | | ම්ප mpa | |

| | | | | | |
|---|---|---|---|---|---|
| ා ā | ි i | ී ī | ු u | ූ ū | ෙ ē |

# යමකප්පකරණ-දුතියභාගෙ

## දුතියො ඛණ්ඩො

### විසය සූචි

### 10. ඉන්ද්‍රිය යමකං

අභිධම්මපිටකෙ

# යමකප්පකරණං

**නමො තස්ස භගවතො අරහතො සම්මාසම්බුද්ධස්ස**

## 10. ඉන්ද්‍රිය යමකං

### 1. පණ්ණත්ති උද්දෙසවාරො

**බාවීසතින්ද්‍රියානි:** චක්ඛුන්ද්‍රියං, සොතින්ද්‍රියං, ඝානින්ද්‍රියං, ජිව්හින්ද්‍රියං, කායින්ද්‍රියං, මනින්ද්‍රියං, ඉත්ථින්ද්‍රියං, පුරිසින්ද්‍රියං, ජීවිතින්ද්‍රියං, සුඛින්ද්‍රියං, දුක්ඛින්ද්‍රියං, සොමනස්සින්ද්‍රියං, දොමනස්සින්ද්‍රියං, උපෙක්ඛින්ද්‍රියං, සද්ධින්ද්‍රියං, විරියින්ද්‍රියං, සතින්ද්‍රියං, සමාධින්ද්‍රියං, පඤ්ඤින්ද්‍රියං, අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රියං, අඤ්ඤින්ද්‍රියං, අඤ්ඤාතාවින්ද්‍රියං.

1. චක්ඛු චක්ඛුන්ද්‍රියං, චක්ඛුන්ද්‍රියං චක්ඛු: සොතං සොතින්ද්‍රියං, සොතින්ද්‍රියං සොතං: ඝානං ඝානින්ද්‍රියං, ඝානින්ද්‍රියං ඝානං: ජිව්හා ජිව්හින්ද්‍රියං, ජිව්හින්ද්‍රියං ජිව්හා: කායො කායින්ද්‍රියං, කායින්ද්‍රියං කායො: මනො මනින්ද්‍රියං, මනින්ද්‍රියං මනො: ඉත්ථී ඉත්ථින්ද්‍රියං, ඉත්ථින්ද්‍රියං ඉත්ථී: පුරිසො පුරිසින්ද්‍රියං, පුරිසින්ද්‍රියං පුරිසො: ජීවිතං ජීවිතින්ද්‍රියං, ජීවිතින්ද්‍රියං ජීවිතං: සුඛං සුඛින්ද්‍රියං, සුඛින්ද්‍රියං සුඛං: දුක්ඛං දුක්ඛින්ද්‍රියං, දුක්ඛින්ද්‍රියං දුක්ඛං: සොමනස්සං සොමනස්සින්ද්‍රියං, සොමනස්සින්ද්‍රියං සොමනස්සං: දොමනස්සං දොමනස්සින්ද්‍රියං, දොමනස්සින්ද්‍රියං දොමනස්සං: උපෙක්ඛා උපෙක්ඛින්ද්‍රියං, උපෙක්ඛින්ද්‍රියං උපෙක්ඛා: සද්ධා සද්ධින්ද්‍රියං, සද්ධින්ද්‍රියං සද්ධා: විරියං විරියින්ද්‍රියං, විරියින්ද්‍රියං විරියං: සති සතින්ද්‍රියං, සතින්ද්‍රියං සති: සමාධි සමාධින්ද්‍රියං, සමාධින්ද්‍රියං සමාධි: පඤ්ඤා පඤ්ඤින්ද්‍රියං, පඤ්ඤින්ද්‍රියං පඤ්ඤා: අනඤ්ඤාතඤ්ඤස්සාමීති අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රියං, අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රියං අනඤ්ඤාතඤ්ඤස්සාමීති: අඤ්ඤං[1] අඤ්ඤින්ද්‍රියං, අඤ්ඤින්ද්‍රියං අඤ්ඤං: අඤ්ඤාතාවී අඤ්ඤාතාවින්ද්‍රියං, අඤ්ඤාතාවින්ද්‍රියං අඤ්ඤාතාවී:

1. අඤ්ඤා-P. T. S.

අභිධර්මපිටකයෙහි

# යමකප්‍රකරණය

ඒ භාග්‍යවත් අර්හත් සම්‍යක්සම්බුද්ධයන් වහන්සේට නමස්කාර වේවා.

## 10. ඉන්ද්‍රියයමක

### 1. ප්‍රඥප්ති උද්දේශවාර

දෙවිසි ඉන්ද්‍රියයෝ වෙති: චක්ඛුන්ද්‍රිය යැ සොතින්ද්‍රිය යැ ඝානින්ද්‍රිය යැ ජිව්හින්ද්‍රිය යැ කායින්ද්‍රිය යැ මනින්ද්‍රිය යැ ඉත්‍ථින්ද්‍රිය යැ පුරිසින්ද්‍රිය යැ ජීවිතින්ද්‍රිය යැ සුඛින්ද්‍රිය යැ දුක්ඛින්ද්‍රිය යැ සොමනස්සින්ද්‍රිය යැ දෙමනස්සින්ද්‍රිය යැ උපෙක්ඛින්ද්‍රිය යැ සද්ධින්ද්‍රිය යැ විරියින්ද්‍රිය යැ සතින්ද්‍රිය යැ සමාධින්ද්‍රිය යැ පඤ්ඤින්ද්‍රිය යැ අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රිය යැ අඤ්ඤින්ද්‍රිය යැ අඤ්ඤාතාවින්ද්‍රිය යි.

1. චක්‍ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, චක්ඛුන්ද්‍රිය චක්ඛුස වේ ද: ශ්‍රොත්‍රය සොතින්ද්‍රිය වේ ද, සොතින්ද්‍රිය ශ්‍රොත්‍ර වේ ද: ඝ්‍රාණය ඝානින්ද්‍රිය වේ ද, ඝානින්ද්‍රිය ඝ්‍රාණ වේ ද; ජිහ්වා ජිව්හින්ද්‍රිය වේ ද, ජිව්හින්ද්‍රිය ජිහ්වා වේ ද: කාය කායින්ද්‍රිය වේ ද, කායින්ද්‍රිය කාය වේ ද: මනස මනින්ද්‍රිය වේ ද, මනින්ද්‍රිය මනස් වේ ද: ස්ත්‍රී ඉත්‍ථින්ද්‍රිය වේ ද, ඉත්‍ථින්ද්‍රිය ස්ත්‍රී වේ ද: පුරුෂ පුරිසින්ද්‍රිය වේ ද, පුරිසින්ද්‍රිය පුරුෂ වේ ද: ජීවිතය ජීවිතින්ද්‍රිය වේ ද, ජීවිතින්ද්‍රිය ජීවිත වේ ද: සුඛය සුඛින්ද්‍රිය වේ ද, සුඛින්ද්‍රිය සුඛ වේ ^: දුඃඛය දුක්ඛින්ද්‍රිය වේ ද, දුක්ඛින්ද්‍රිය දුඃඛ වේ ද: සෞමනස්සය සොමනස්සින්ද්‍රිය වේ ද, සොමනස්සින්ද්‍රිය සෞමනස්ස වේ ද: දෞමනස්සය දෙමනස්සින්ද්‍රිය වේ ද, දෙමනස්සින්ද්‍රිය දෞමනස්ස වේ ද: උපෙක්‍ෂා උපෙක්ඛින්ද්‍රිය වේ ද, උපෙක්ඛින්ද්‍රිය උපෙක්‍ෂා වේ ද: ශ්‍රද්ධා සද්ධින්ද්‍රිය වේ ද, සද්ධින්ද්‍රිය ශ්‍රද්ධා වේ ද: වීර්‍ය්‍ය විරියින්ද්‍රිය වේ ද, විරියින්ද්‍රිය වීර්‍ය්‍ය වේ ද: සති සතින්ද්‍රිය වේ ද, සතින්ද්‍රිය සති වේ ද: සමාධි සමාධින්ද්‍රිය වේ ද, සමාධින්ද්‍රිය සමාධි වේ ද: ප්‍රඥා පඤ්ඤින්ද්‍රිය වේ ද, පඤ්ඤින්ද්‍රිය ප්‍රඥා වේ ද: 'අනඤ්ඤාතඤ්ඤස්සාමීති' අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රිය වේ ද, අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රිය අනඤ්ඤාතඤ්ඤස්සාමීති වේ ද: අඤ්ඤා අඤ්ඤින්ද්‍රිය වේ ද, අඤ්ඤින්ද්‍රිය අඤ්ඤා වේ ද: අඤ්ඤාතාවී අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද, අඤ්ඤාතාවින්ද්‍රිය අඤ්ඤාතාවී වේ ද යත්:

2. න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න චක්ඛුන්ද්‍රියං න චක්ඛු: න සොතං න සොතින්ද්‍රියං, න සොතින්ද්‍රියං න සොතං: න ඝානං න ඝානින්ද්‍රියං, න ඝානින්ද්‍රියං න ඝානං: න ජිව්හා න ජිව්හින්ද්‍රියං, න ජිව්හින්ද්‍රියං න ජිව්හා: න කායො න කායින්ද්‍රියං, න කායින්ද්‍රියං න කායො: න මනො න මනින්ද්‍රියං, න මනින්ද්‍රියං න මනො: න ඉත්ථි න ඉත්ථින්ද්‍රියං, න ඉත්ථින්ද්‍රියං න ඉත්ථි: න පුරිසො න පුරිසින්ද්‍රියං, න පුරිසින්ද්‍රියං න පුරිසො: න ජීවිතං න ජීවිතින්ද්‍රියං, න ජීවිතින්ද්‍රියං න ජීවිතං: න සුඛං න සුඛින්ද්‍රියං, න සුඛින්ද්‍රියං න සුඛං: න දුක්ඛං න දුක්ඛින්ද්‍රියං, න දුක්ඛින්ද්‍රියං න දුක්ඛං: න සොමනස්සං න සොමනස්සින්ද්‍රියං, න සොමනස්සින්ද්‍රියං න සොම-නස්සං: න දොමනස්සං න දොමනස්සින්ද්‍රියං, න දොමනස්සින්ද්‍රියං න දොමනස්සං: න උපෙක්ඛා න උපෙක්ඛින්ද්‍රියං, න උපෙක්ඛින්ද්‍රියං න උපෙක්ඛා; න සද්ධා න සද්ධින්ද්‍රියං, න සද්ධින්ද්‍රියං න සද්ධා: න විරියං න විරියින්ද්‍රියං, න විරියින්ද්‍රියං න විරියං: න සති න සතින්ද්‍රියං, න සතින්ද්‍රියං න සති: න සමාධි න සමාධින්ද්‍රියං, න සමාධින්ද්‍රියං න සමාධි: න පඤ්ඤා න පඤ්ඤින්ද්‍රියං, න පඤ්ඤින්ද්‍රියං න පඤ්ඤා: න අනඤ්ඤාත-ඤ්ඤස්සාමීති න අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රියං, න අනඤ්ඤාතඤ්ඤ-ස්සාමීතින්ද්‍රියං න අනඤ්ඤාතඤ්ඤස්සාමීති: න අඤ්ඤං න අඤ්ඤින්ද්‍රියං, න අඤ්ඤින්ද්‍රියං න අඤ්ඤං: න අඤ්ඤාතාවී න අඤ්ඤාතාවින්ද්‍රියං, න අඤ්ඤා-තාවින්ද්‍රියං න අඤ්ඤාතාවී.

පදසොධනවාරො.

3. චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා සොතින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං ඉන්ද්‍රියා ඝානින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා ජිව්හින්ද්‍රියං: චක්ඛු චක්ඛු-න්ද්‍රියං, ඉන්ද්‍රියා කායින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා මනින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා ඉත්ථින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා පුරිසින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා ජීවිතින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා සුඛින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා දුක්ඛින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා සොමනස්සින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා දොමනස්සින්ද්‍රියං:

2. චක්‍ෂුස් නො වූයේ චක්ඛුන්ද්‍රිය නො වූයේ වේ ද, චක්ඛුන්ද්‍රිය නො වූයේ චක්‍ෂුස් නො වූයේ වේ ද: සොත නො වූයේ සොතින්ද්‍රිය නො වූයේ වේ ද, සොතින්ද්‍රිය නො වූයේ සොත නො වූයේ වේ ද: ඝාන නො වූයේ ඝානින්ද්‍රිය නො වූයේ වේ ද, ඝානින්ද්‍රිය නො වූයේ ඝාන නො වූයේ වේ ද: ජිව්හා නො වූවා ජිව්හින්ද්‍රිය නො වූයෙ වේ ද, ජිව්හින්ද්‍රිය නො වූයේ ජිව්හා නො වූවා වේ ද: කාය නො වූයේ කායින්ද්‍රිය නො වූයේ වේ ද, කායින්ද්‍රිය නො වූයේ කාය නො වූයේ වේ ද: මනස් නො වූයේ මනින්ද්‍රිය නො වූයේ වේ ද, මනින්ද්‍රිය නො වූයේ මනස් නො වූයේ වේ ද: ස්ත්‍රී නො වූවා ඉත්ථින්ද්‍රිය නො වූයේ වේ ද, ඉත්ථින්ද්‍රිය නො වූයේ ස්ත්‍රී නො වූවා වේ ද: පුරුෂ නො වූයේ පුරිසින්ද්‍රිය නො වූයේ වේ ද, පුරිසින්ද්‍රිය නො වූයේ පුරුෂ නො වූයේ වේ ද: ජීවිත නො වූයේ ජීවිතින්ද්‍රිය නො වූයේ වේ ද, ජීවිතින්ද්‍රිය නො වූයේ ජීවිත නො වූයේ වේ ද: සුඛ නො වූයේ සුඛින්ද්‍රිය නො වූයේ වේ ද, සුඛින්ද්‍රිය නො වූයේ සුඛ නො වූයේ වේ ද: දුක්ඛ නො වූයේ දුක්ඛින්ද්‍රිය නො වූයේ වේ ද, දුක්ඛින්ද්‍රිය නො වූයේ දුක්ඛ නො වූයේ වේ ද: සොමනස්ස නො වූයේ සොමනස්සින්ද්‍රිය නො වූයේ වේ ද, සොමනස්සින්ද්‍රිය නො වූයේ සොමනස්ස නො වූයේ වේ ද: දෙමනස්ස නො වූයේ දෙමනස්සින්ද්‍රිය නො වූයේ වේ ද, දෙමනස්සින්ද්‍රිය නො වූයේ දෙමනස්ස නො වූයේ වේ ද: උපෙක්‍ෂා නො වූවා උපෙක්ඛින්ද්‍රිය නො වූයේ වේ ද, උපෙක්ඛින්ද්‍රිය නො වූයේ උපෙක්‍ෂා නො වූවා වේ ද: ශ්‍රද්ධා නො වූවා සද්ධින්ද්‍රිය නො වූයේ වේ ද, සද්ධින්ද්‍රිය නො වූයේ ශ්‍රද්ධා නො වූවා වේද: වීර්‍ය්‍ය නො වූයේ විරියින්ද්‍රිය නො වූයේ වේ ද, විරියින්ද්‍රිය නො වූයේ වීර්‍ය්‍ය නො වූයේ වේ ද: ස්මෘති නො වූවා සතින්ද්‍රිය නො වූයේ වේ ද: සතින්ද්‍රිය නො වූයේ ස්මෘති නො වූවා වේ ද: සමාධි නො වූයේ සමාධින්ද්‍රිය නො වූයේ වේ ද, සමාධින්ද්‍රිය නො වූයේ සමාධි නො වූයේ වේ ද: ප්‍රඥා නො වූවා පඤ්ඤින්ද්‍රිය නො වූයේ වේ ද, පඤ්ඤින්ද්‍රිය නො වූයේ ප්‍රඥා නො වූවා වේ ද: අනඤ්ඤාතඤ්ඤස්සාමීති අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රිය නො වූයේ වේ ද, අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රිය නො වූයේ අනඤ්ඤාතඤ්ඤස්සාමීති නො වූයේ වේ ද: අඤ්ඤා නො වූයේ අඤ්ඤින්ද්‍රිය නො වූයේ වේ ද: අඤ්ඤින්ද්‍රිය නො වූයේ අඤ්ඤා නො වූයේ වේ ද: අඤ්ඤාතාවී නො වූයේ අඤ්ඤාතාවින්ද්‍රිය නො වූයේ වේ ද, අඤ්ඤාතාවින්ද්‍රිය නො වූයේ අඤ්ඤාතාවී නො වූයේ වේ ද යත්.

පදශොධනවාර යි.

3. චක්‍ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ සොතින්ද්‍රිය වේ ද: චක්‍ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ ඝානින්ද්‍රිය වේ ද: චක්‍ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ ජිව්හින්ද්‍රිය වේ ද, චක්‍ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ කායින්ද්‍රිය වේ ද: චක්‍ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියෝ මනින්ද්‍රිය වේ ද: චක්‍ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ ඉත්ථින්ද්‍රිය වේ ද: චක්‍ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ පුරිසින්ද්‍රිය වේ ද: චක්‍ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ ජීවිතින්ද්‍රිය වේ ද: චක්‍ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ සුඛින්ද්‍රිය වේ ද: චක්‍ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ දුක්ඛින්ද්‍රිය වේ ද: චක්‍ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ සොමනස්සින්ද්‍රිය වේ ද: චක්‍ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ දෙමනස්සින්ද්‍රිය වේ ද:

චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා උපෙක්ඛින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා සද්ධින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා විරියින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා සතින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං ඉන්ද්‍රියා සමාධින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා පඤ්ඤින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤින්ද්‍රියං: චක්ඛු චක්ඛුන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

4. සොතං සොතින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- සොතං සොතින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

5. ඝානං ඝානින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- ඝානං ඝානින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

6. ජිව්හා ජිව්හින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- ජිව්හා ජිව්හින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

7. කායො කායින්ද්‍රියං; ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- කායො කායින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

8. මනො මනින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- මනො මනින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

9. ඉත්ථී ඉත්ථින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- ඉත්ථී ඉත්ථින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

10. පුරිසො පුරිසින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- පුරිසො පුරිසින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

11. ජීවිතං ජීවිතින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- ජීවිතං ජීවිතින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

12. සුඛං සුඛින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- සුඛං සුඛින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

13. දුක්ඛං දුක්ඛින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- දුක්ඛං දුක්ඛින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

14. සොමනස්සං සොමනස්සින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- සොමනස්සං සොමනස්සින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

15. දොමනස්සං දොමනස්සින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- දොමනස්සං දොමනස්සින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

16. උපෙක්ඛා උපෙක්ඛින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- උපෙක්ඛා උපෙක්ඛින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

චක්ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ උපෙක්ඛින්ද්‍රිය වේ ද : චක්ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ සද්ධින්ද්‍රිය වේ ද : චක්ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ විරියින්ද්‍රිය වේ ද, චක්ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ ස්මෘතීන්ද්‍රිය වේ ද : චක්ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ සමාධින්ද්‍රිය වේ ද, චක්ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ පඤ්ඤින්ද්‍රිය වේ ද : චක්ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රිය වේ ද: චක්ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤින්ද්‍රිය වේ ද : චක්ෂුස චක්ඛුන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

4. ශ්‍රොත්‍රය සොතින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද... ශ්‍රොත්‍රය සොතින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

5. ඝ්‍රාණය ඝාණින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද... ඝ්‍රාණය ඝාණින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

6. ජිව්හා ජිව්හින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද... ජිව්හා ජිව්හින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

7. කාය කායින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද... කාය කායින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

8. මනස මනින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද... මනස මනින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත්:

9. ස්ත්‍රී ඉත්ථින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද... ස්ත්‍රී ඉත්ථින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

10. පුරුෂ පුරිසින්ද්‍රිය වේ ද ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද... පුරුෂ පුරිසින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

11. ජීවිතය ජීවිතින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද... ජීවිතය ජීවිතින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

12. සුඛය සුඛින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද... සුඛය සුඛින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

13. දුඃඛය දුක්ඛින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද... දුඃඛය දුක්ඛින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

14. සොමනස්සය සොමනස්සින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද... සොමනස්සය සොමනස්සින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

15. දෞමනස්සය දෞමනස්සින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද... දෞමනස්සය දෞමනස්සින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

16. උපෙක්ෂා උපෙක්ඛින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද ... උපෙක්ෂා උපෙක්ඛින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

17. සද්ධා සද්ධින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- සද්ධා සද්ධින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

18. විරියං විරියින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- විරියං විරියින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

19. සති සතින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- සති සතින්ද්‍රියං ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

20. සමාධි සමාධින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- සමාධි සමාධින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

21. පඤ්ඤා පඤ්ඤින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- පඤ්ඤා පඤ්ඤින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

22. අනඤ්ඤාතඤ්ඤස්සාමීති අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- අනඤ්ඤාතඤ්ඤස්සාමීති අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

23. අඤ්ඤං අඤ්ඤින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- අඤ්ඤං අඤ්ඤින්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවින්ද්‍රියං:

24. අඤ්ඤාතාවී අඤ්ඤාතාවින්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛුන්ද්‍රියං -පෙ- අඤ්ඤාතාවී අඤ්ඤාතාවින්ද්‍රියං ඉන්ද්‍රියා අඤ්ඤින්ද්‍රියං:

25. න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න ඉන්ද්‍රියා න සොතින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න ඉන්ද්‍රියා න ඝාණින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න ඉන්ද්‍රියා න ජිව්හින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං. න ඉන්ද්‍රියා න කායින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න ඉන්ද්‍රියා න මනින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න ඉන්ද්‍රියා න ඉත්ථින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං න ඉන්ද්‍රියා න පුරිසින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න ඉන්ද්‍රියා න ජීවිතින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න ඉන්ද්‍රියා න සුඛින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න ඉන්ද්‍රියා න දුක්ඛින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න ඉන්ද්‍රියා න

17. ශ්‍රද්ධා සද්ධින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රියවේ ද... ශ්‍රද්ධා සද්ධින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත්:

18. වීය්‍ය්‍ර විරියින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද... වීය්‍ය්‍ර විරියින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

19. ස්මෘති සතින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද ... ස්මෘති සතින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත් :

20. සමාධි සමාධින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියෝ චක්ඛුන්ද්‍රිය වේ ද... සමාධි සමාධින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත්:

21. ප්‍රඥා පඤ්ඤින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද ... ප්‍රඥා පඤ්ඤින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත්:

22. අනඤ්ඤාතඤ්ඤස්සාමීති අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද ... අනඤ්ඤාතඤ්ඤස්සාමීති අනඤ්ඤා-තඤ්ඤස්සාමීතින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත්:

23. අඤ්ඤා අඤ්ඤින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද... අඤ්ඤා අඤ්ඤින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද යත්:

24. අඤ්ඤාතාවී අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ චක්ඛුන්ද්‍රිය වේ ද ... අඤ්ඤාතාවී අඤ්ඤාතාවින්ද්‍රිය වේ ද, ඉන්ද්‍රියයෝ අඤ්ඤින්ද්‍රිය වේ ද යත් :

25. චක්ඛුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු සොතින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ඛුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු ඝානින්ද්‍රිය නොවූයෙ වේ ද: චක්ඛුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු ජිව්හින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ඛුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු කායින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ඛුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයෙ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු මනින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ඛුස් නොවූයෙ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු ඉත්ථින්ද්‍රිය නොවූයෙ වේ ද: චක්ඛුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ඉන්ද්‍රිය නොවූවාහු පුරිසින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ඛුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු ජීවිතින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ඛුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු සුඛින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ඛුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු දුක්ඛින්ද්‍රිය නො වූයේ වේ ද: චක්ඛුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු

සොමනස්සින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න ඉන්ද්‍රියා න දොමනස්සින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න ඉන්ද්‍රියා න උපෙක්ඛින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං න ඉන්ද්‍රියා න සද්ධින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං න ඉන්ද්‍රියා න විරියින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං න ඉන්ද්‍රියා න සතින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න ඉන්ද්‍රියා න සමාධින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං. න ඉන්ද්‍රියා න පඤ්ඤින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න ඉන්ද්‍රියා න අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤින්ද්‍රියං: න චක්ඛු න චක්ඛුන්ද්‍රියං, න. ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

26. න සොතං න සොතින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න සොතං න සොතින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

27. න ඝානං න ඝානින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න ඝානං න ඝානින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

28. න ජිව්හා න ජිව්හින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න ජිව්හා න ජිව්හින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

29. න කායො න කායින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න කායො න කායින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

30. න මනො න මනින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න මනො න මනින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

31. න ඉත්ථී න ඉත්ථින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න ඉත්ථී න ඉත්ථින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

සොමනස්සින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ෂුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු දෙමනස්සින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ෂුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු උපෙක්ඛින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ෂුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු සද්ධින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ෂුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු විරියින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ෂුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු ස්මෘතින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ෂුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු සමාධින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ෂුස් නොවූයෙ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු පඤ්ඤින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ෂුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ෂුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤින්ද්‍රිය නොවූයේ වේ ද: චක්ෂුස් නොවූයේ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත්:

26. සෝත නොවූයේ සෝතින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... සෝත නොවූයේ සොතින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත්:

27. ඝාන නොවූයේ ඝානින්ද්‍රිය නො වූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... ඝාන නොවූයේ ඝානින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත්:

28. ජිව්හා නොවූයේ ජිව්හින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... ජිව්හා නොවූයේ ජිව්හින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත්:

29. කාය නොවූයේ කායින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවා චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... කාය නොවූයේ කායින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත්:

30. මන නොවූයේ මනින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... මන නොවූයේ මනින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත්:

31. ඉත්ථී නොවූයේ ඉත්ථින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... ඉත්ථී නොවූයේ ඉත්ථින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත්:

32. න පුරිසො න පුරිසින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න පුරිසො න පුරිසින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

33. න ජීවිතං න ජීවිතින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න ජීවිතං න ජීවිතින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

34. න සුඛං න සුඛින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න සුඛං න සුඛින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

35. න දුක්ඛං න දුක්ඛින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න න දුක්ඛං න දුක්ඛින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

36. න සොමනස්සං න සොමනස්සින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛු-න්ද්‍රියං -පෙ- න සොමනස්සං න සොමනස්සින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

37. න දොමනස්සං න දොමනස්සින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න දොමනස්සං න දොමනස්සින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤා-තාවින්ද්‍රියං:

38. න උපෙක්ඛා න උපෙක්ඛින්ද්‍රියං. න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න උපෙක්ඛා න උපෙක්ඛින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

39. න සද්ධා න සද්ධින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න සද්ධා න සද්ධින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං;

40. න විරියං න විරියින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න විරියං න විරියින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

32. පුරිස නොවූයේ පුරිසින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... පුරිස නොවූයේ පුරිසින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

33. ජීවිත නොවූයේ ජීවිතින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... ජීවිත නොවූයේ ජීවිතින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

34. සුඛ නොවූයේ සුඛින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... සුඛ නොවූයේ සුඛින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නො වූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

35. දුක්ඛ නොවූයේ දුක්ඛින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... දුක්ඛ නොවූයේ දුක්ඛින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

36. සොමනස්ස නොවූයේ සොමනස්සින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... සොමනස්ස නොවූයේ සොමනස්සින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

37. දොමනස්ස නොවූයේ දොමනස්සින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නො වූයේ වේ ද ... දොමනස්ස නොවූයේ දොමනස්සින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

38. උපෙක්ෂා නොවූවා උපෙක්ඛින්ද්‍රිය නොවූයේ වේ ද ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... උපෙක්ෂා නොවූවා උපෙක්ඛින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

39. සද්ධා නොවූවා සද්ධින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... සද්ධා නොවූවා සද්ධින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

40. විරිය නොවූයේ විරියින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... විරිය නොවූයේ විරියින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

41. න සති න සතින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න සති න සතින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

42. න සමාධි න සමාධින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න සමාධි න සමාධින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

43. න පඤ්ඤා න පඤ්ඤින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න පඤ්ඤා න පඤ්ඤින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

44. න අනඤ්ඤාතඤ්ඤස්සාමීති න අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න අනඤ්ඤාතඤ්ඤස්සාමීති න අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

45. න අඤ්ඤං න අඤ්ඤින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රියං -පෙ- න අඤ්ඤං න අඤ්ඤින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවින්ද්‍රියං:

46. න අඤ්ඤාතාවී න අඤ්ඤාතාවින්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛුන්ද්‍රිය -පෙ- න අඤ්ඤාතාවි න අඤ්ඤාතාවින්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤින්ද්‍රියං:

පදසොධනමූලචක්කවාරො.

47. චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු[1]. සොතං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා සොතං: ඝානං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා ඝානං: ජිව්හා ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා ජිව්හා: කායො ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා කායො: මනො මන්ද්‍රියං, ඉන්ද්‍රියා මනො: ඉත්ථී ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා ඉත්ථී: පුරිසො ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා පුරිසො: ජීවිතං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා ජීවිතං: සුඛං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා සුඛං: දුක්ඛං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා දුක්ඛං: සොමනස්සං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා සොමනස්සං: දොමනස්සං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා දොමනස්සං: උපෙක්ඛා ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා උපෙක්ඛා:

1. චක්ඛුන්ද්‍රියං - P.T.S..

41. සති නොවූවා සතින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... සති නොවූවා සතින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

42. සමාධි නොවූයේ සමාධින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... සමාධි නොවූයේ සමාධින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

43. පඤ්ඤා නොවූවා පඤ්ඤින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාවූ චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... පඤ්ඤා නොවූවා පඤ්ඤින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

44. අනඤ්ඤාතඤ්ඤස්සාමීති නොවූයේ අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... අනඤ්ඤාතඤ්ඤස්සාමීති නොවූයේ අනඤ්ඤාතඤ්ඤස්සාමීතින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

45. අඤ්ඤා නොවූයේ අඤ්ඤින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... අඤ්ඤා නොවූයේ අඤ්ඤින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

46. අඤ්ඤාතාවී නොවූයේ අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්ඛුන්ද්‍රිය නොවූයේ වේ ද ... අඤ්ඤාතාවී නොවූයේ අඤ්ඤාතාවින්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤින්ද්‍රිය නොවූයේ වේ ද යත් :

**පදශොධනමූලචක්‍රවාර යි.**

47. චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු චක්ෂුස් වේ ද : ශ්‍රොත්‍ර වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ශ්‍රොත්‍ර වේ ද : ඝ්‍රාණ වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ඝ්‍රාණ වේ ද : ජිව්හා වූවා ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ජිව්හා වේ ද : කාය වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු කාය වේ ද: මනස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු මනස් වේ ද : ස්ත්‍රී වූවා ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ස්ත්‍රී වේ ද: පුරුෂ වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු පුරුෂ වේ ද : ජීවිත වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ජීවිත වේ ද: සුඛ වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු සුඛ වේ ද: දුඃඛ වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු දුඃඛ වේ ද : සෞමනස්‍ය වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු සෞමනස්‍ය වේ ද: දෞර්මනස්‍ය වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු දෞර්මනස්‍ය වේ ද: උපෙක්‍ෂා වූවා ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු උපෙක්‍ෂා වේ ද :

සද්ධා ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා සද්ධා: විරියං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා විරියං: සති ඉන්ද්‍රියං ඉන්ද්‍රියා සති: සමාධි ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා සමාධි: පඤ්ඤා ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා පඤ්ඤා: අනඤ්ඤාතඤ්ඤස්සාමීති ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අනඤ්ඤාතඤ්ඤස්සාමීති: අඤ්ඤං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤං: අඤ්ඤාතාවී ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

48. න චක්ඛු න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න චක්ඛු:[1] න සොතං න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න සොතං:[2] න ඝානං න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න ඝානං: න ජිව්හා න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න ජිව්හා: න කායො න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න කායො: න මනො න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න මනො: න ඉත්ථී න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න ඉත්ථී: න පුරිසො න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න පුරිසො: න ජීවිතං න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න ජීවිතං: න සුඛං න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න සුඛං: න දුක්ඛං න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න දුක්ඛං: න සොමනස්සං න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න සොමනස්සං: න දොමනස්සං න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න දොමනස්සං: න උපෙක්ඛා න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න උපෙක්ඛා; න සද්ධා න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න සද්ධා: න විරියං න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න විරියං: න සති න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න සති: න සමාධි න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න සමාධි: න පඤ්ඤා න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න පඤ්ඤා: න අනඤ්ඤාතඤ්ඤස්සාමීති න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න අනඤ්ඤාතඤ්ඤස්සාමීති: න අඤ්ඤං න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤං: න අඤ්ඤාතාවී න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න අඤ්ඤාතාවී:

සුද්ධ ඉන්ද්‍රියවාරො.

1. චක්ඛුන්ද්‍රියං – PTS.
2. සොතින්ද්‍රියං – PTS.

ශ්‍රද්ධා වූවා ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ශ්‍රද්ධා වේ ද: වීර්‍ය්‍ය වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු වීර්‍ය්‍ය වේ ද: ස්මෘති වූවා ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ස්මෘති වේ ද: සමාධි වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු සමාධි වේ ද: ප්‍රඥා වූවා ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ප්‍රඥා වේ ද: අනඤ්ඤාතඤ්ඤස්සාමීති ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අනඤ්ඤාතඤ්ඤස්සාමීති වේ ද: අඤ්ඤ වූයෙ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අඤ්ඤ වේ ද: අඤ්ඤාතාවී වූයෙ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අඤ්ඤාතාවී වේ ද යත්:

48. චක්‍ෂුස් නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු චක්‍ෂුස් නොවූයේ වේ ද: ශ්‍රොත්‍ර නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේද, ඉන්ද්‍රිය නොවූවාහු ශ්‍රොත්‍ර නොවූයේ වේ ද: ඝ්‍රාණ නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු ඝ්‍රාණ නොවූයේ වේ ද: ජිව්හා නොවූවා ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු ජිහ්වා නොවූවා වේ ද: කාය නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු කාය නොවූයේ වේ ද: මනස් නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු මනස් නොවූයේ වේ ද: ස්ත්‍රී නොවූවා ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු ස්ත්‍රී නොවූවා වේ ද: පුරුෂ නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු පුරුෂ නොවූයේ වේ ද: ජීවිත නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු ජීවිත නොවූයේ වේ ද: සුඛ නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු සුඛ නොවූයේ වේ ද: දුඃඛ නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු දුඃඛ නොවූයේ වේ ද: සෞමනස්‍ය නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු සෞමනස්‍ය නොවූයේ වේ ද: දෞර්මනස්‍ය නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු දෞර්මනස්‍ය නොවූයේ වේ ද: උපෙක්‍ෂා නොවූවා ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු උපෙක්‍ෂා නොවූවා වේ ද: ශ්‍රද්ධා නොවූවා ඉන්ද්‍රිය නොවූයෙ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු ශ්‍රද්ධා නොවූවා වේ ද: වීර්‍ය්‍ය නොවූයෙ ඉන්ද්‍රිය නොවූයෙ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු වීර්‍ය්‍ය නොවූයේ වේ ද: ස්මෘති නොවූවා ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු ස්මෘති නොවූවා වේ ද: සමාධි නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු සමාධි නොවූයේ වේ ද: ප්‍රඥා නොවූවා ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු ප්‍රඥා නොවූවා වේ ද: අනඤ්ඤාතඤ්ඤස්සාමීති නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අනඤ්ඤාතඤ්ඤස්සාමීති නොවූයේ වේ ද: අඤ්ඤ නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤ නොවූයේ වේ ද: අඤ්ඤාතාවී නොවූයේ ඉන්ද්‍රිය නොවූයේ වේ ද, ඉන්ද්‍රිය නොවූවාහු අඤ්ඤාතාවී නොවූයේ වේ ද යත්:

ශුද්ධ ඉන්ද්‍රියවාර යි.

49. චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා සොතං[1]: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා ඝානං[2]: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා ජිව්හා: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා කායො: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා මනො: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා ඉත්ථී: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා පුරිසො: චක්ඛු ඉන්ද්‍රිය , ඉන්ද්‍රියා ජීවිතං: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා සුඛං: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා දුක්ඛං: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා සොමනස්සං: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා දොමනස්සං: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා උපෙක්ඛා: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා සද්ධා: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා විරියං: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා සති: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා සමාධි: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා පඤ්ඤා: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අනඤ්ඤාතඤ්ඤස්සාමීති: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤං: චක්ඛු ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

50. සොතං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු[3]: –පෙ– සොතං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

51. ඝානං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– ඝානං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

52. ජිව්හා ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– ජිව්හා ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී.

53. කායො ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– කායො ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

54. මනො ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– මනො ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

55. ඉත්ථී ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– ඉත්ථී ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

56. පුරිසො ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– පුරිසො ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

57. ජීවිතං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– ජීවිතං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

58. සුඛං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– සුඛං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

1. සොතින්ද්‍රියං–P.T.S.
2. ඝානින්ද්‍රියං–P.T.S.
3. චක්ඛුන්ද්‍රියං – PTS.

49. චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ශ්‍රොත්‍ර වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ඝ්‍රාණ වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ජිව්හා වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු කාය වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු මනස් වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ස්ත්‍රී වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු පුරුෂ වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ජීවිත වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු සුඛ වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු දුඃඛ වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු සෞමනස්‍ය වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු දෞර්මනස්‍ය වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු උපෙක්ෂා වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ශ්‍රද්ධා වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු වීර්‍ය්‍ය වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු සමෘති වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු සමාධි වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු ප්‍රඥා වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අනඤ්ඤාතඤ්ඤස්සාමීති වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අඤ්ඤා වේ ද: චක්ෂුස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අඤ්ඤාතාවී වේ ද යත්:

50. ශ්‍රොත්‍ර වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු චක්ෂුස් වේ ද ... ශ්‍රොත්‍ර වූයෙ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අඤ්ඤාතාවී වේ ද යත්:

51. ඝ්‍රාණ වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු චක්ෂුස් වේ ද ... ඝ්‍රාණ වූයෙ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අඤ්ඤාතාවී වේ ද යත්:

52. ජිව්හා වූවා ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු චක්ෂුස් වේ ද ... ජිව්හා වූවා ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අඤ්ඤාතාවී වේ ද යත්:

53. කාය වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු චක්ෂුස් වේ ද ... කාය වූයෙ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අඤ්ඤාතාවී වේ ද යත්:

54. මනස් වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු චක්ෂුස් වේ ද ... මනස් වූයෙ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අඤ්ඤාතාවී වේ ද යත්:

55. ස්ත්‍රී වූවා ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු චක්ෂුස් වේ ද ... ස්ත්‍රී වූවා ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අඤ්ඤාතාවී වේ ද යත්:

56. පුරුෂ වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු චක්ෂුස් වේ ද ... පුරුෂ වූයෙ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අඤ්ඤාතාවී වේ ද යත්:

57. ජීවිත වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු චක්ෂුස් වේ ද ... ජීවිත වූයෙ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අඤ්ඤාතාවී වේ ද යත්:

58. සුඛ වූයේ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු චක්ෂුස් වේ ද ... සුඛ වූයෙ ඉන්ද්‍රිය වේ ද, ඉන්ද්‍රිය වූවාහු අඤ්ඤාතාවී වේ ද යත්:

59. දුක්ඛං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– දුක්ඛං ඉන්ද්‍රියං. ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

60. සොමනස්සං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– සොමනස්සං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

61. දොමනස්සං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– දොමනස්සං ඉන්ද්‍රියං ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

62. උපෙක්ඛා ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– උපෙක්ඛා ඉන්ද්‍රියං ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

63. සද්ධා ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– සද්ධා ඉන්ද්‍රියං. ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

64. විරියං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– විරියං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

65. සති ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– සති ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

66. සමාධි ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– සමාධි ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

67. පඤ්ඤා ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– පඤ්ඤා ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

68. අනඤ්ඤාතඤ්ඤස්සාමීති ඉන්ද්‍රියං: ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– අනඤ්ඤාතඤ්ඤස්සාමීති ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

69. අඤ්ඤං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– අඤ්ඤං ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤාතාවී:

70. අඤ්ඤාතාවී ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා චක්ඛු: –පෙ– අඤ්ඤාතාවී ඉන්ද්‍රියං, ඉන්ද්‍රියා අඤ්ඤං:

අනුලොමං.

71. න චක්ඛු න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න සොතං[1]: න චක්ඛු න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න ඝානං[2]: න චක්ඛු න ඉන්ද්‍රියං, න ඉන්ද්‍රියා න ජිව්හා:

1. සොතින්ද්‍රියං – PTS
2. ඝානින්ද්‍රියං – PTS

